OL/2015/47/S





**47 | S**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

**සිංහල සාහිත්‍ය රසාස්වාදය**
இலக்கிய நயம் சிங்களம்
**Appreciation of Sinhala Literary Texts**

**පැය තුනයි**
மூன்று மணித்தியாலம்
*Three hours*

※ **I** කොටසෙහි **1, 2** ප්‍රශ්නවලටත්, **II** කොටසෙහි **3** වැනි ප්‍රශ්නයටත්, **III** කොටසෙහි **4, 5, 6, 7** ප්‍රශ්නවලින් තෝරා ගත් ප්‍රශ්න **දෙකකටත්** උත්තර සපයන්න.

## I කොටස

**1.** (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒ එක එකක් පිළිබඳ ව අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි උත්තර** ලියන්න.

(i) "කවරෙක් නම් මෙබඳු ගැහැනියක හැර පියා නැඟී යේ දැයි" කීහ.
- (අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
- (ආ) මෙහි 'ගැහැනිය' යනුවෙන් හැඳින්වෙන්නේ කවුරු ද?

(ii) "ගම්වැස්සෙනි, නොසිතව'යි අස්වසා කීමෙහි බිණීමෙහි දක්ෂ වූ පුරුෂයන් දෙතුන් දෙනකු බණවා"
- (අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?
- (ආ) මෙම ප්‍රකාශය ඇතුළත් අතුරු කතාවේ නම කුමක් ද?

(iii) "රජ්ජුරුවෝ එබස් අසා දණ්ඩෙන් ගසන ලද ආශීර්විෂයක්හු මෙන් ක්‍රෝධයෙන් දිලිහී"
- (අ) මෙම ප්‍රකාශයේ සඳහන් වන රජතුමාගේ නම කුමක් ද?
- (ආ) මෙහි ඇතුළත් **ආශීර්විෂයක්හු** යන වචනයේ තේරුම කුමක් ද?

(iv)
"මෙලෙසින් බුදුන් බඳ
දෙතිසෙක ලකුණු මන නඳ
එබැවින් මුනිඳු සඳ
පහන් තුර සේ දිලෙයි ඇම සඳ"

- (අ) මෙම කවිය ඇතුළත් වන ග්‍රන්ථය කුමක් ද?
- (ආ) මෙම කවියෙහි බුදුරජාණන් වහන්සේගේ ශරීරය උපමා කර ඇත්තේ කුමකට ද?

(v)
"පාන නිවා බිම පැදුරේ නිදන්නේ
මූණ උඩේ එකකොට මට පෙනෙන්නේ
පාන හිනා හඬ හීනෙන් ඇහෙන්නේ
හීන නොමැති නින්දක් මට දියන්නේ "

- (අ) මෙම කවිය ඇතුළත් පද්‍ය පන්තිය රචනා කළ කවියා නම් කරන්න.
- (ආ) මෙහි දැක්වෙන 'හීන නොමැති නින්දක්' යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 04 × 5 = 20 යි.)

**2.** පහත සඳහන් ගද්‍ය හා පද්‍ය කොටස්වල **තද කළු අකුරෙන්** මුද්‍රිත පදවල අර්ථය පළමු ව වෙන් වෙන් ව ලියා, එක් එක් පාඨයෙහි සමස්ත අර්ථය ද ලිහිල් බසින් ලියන්න.

(i) "වැසිදිය **එළා ලූ කල** සී සාමී'යි අසල් ගමෙකින් **ගොන් ගෙයක්** මිලයට ගෙන අවුත් තමාගේ ගෙයි ම ලග්ගා, දෙවන දවස් තණ කවන පිණිස තණ බිමට ගෙන ගොස්"

(ii) "**නුවණැත්තේ** ප්‍රඥායෙන් කටයුතු සියුම් වූ යුක්ති ආදි යම් ගැටමුසු කාරණයක් සැක හැර කියා ද, එබඳු කාරණයෙහි නුවණ නැත්තේ **අවලෝකනය කොට ගත නොහී** "

(iii)
"මෙලෙසින් අදහමට
තිරිඳුන් ලොව පැමිණි විට
එරඳුන් **නතු** රට ට
හමයි **විසම ව** පවන් ඇඩි කොට"

[දෙවැනි පිටුව බලන්න

(iv) "දාහිය අතු පඳුරු ගින්නෙන් නිකිණි මසේ
සෝකිව ඇඹරෙමින් වැලපෙන හැටිය ඇසේ
ඉඳහිට සුළඟ නවතී **ඩා** නිවන ලෙසේ
හදවත **සිරස** බර මම නිදියම් ද කෙසේ "

(v) "රනින් කුකුළු රුවක් පුදමි
රිදියෙන් **බිජුවටක්** පුදමි
**රන් දුනු හී** දෙකක් පුදමි
රුවට රිදී රුවක් පුදමි "

(ලකුණු 5 x 5 = 25 යි.)

## II කොටස

● පහත දැක්වෙන ගද්‍ය - පද්‍ය කොටස් දෙකින් **එක කොටසකට පමණක්** උත්තර සපයන්න.

**3.** "ඔබ ගමෙන් ගොස් නොබෝ කලකින් ලිපියක් එවීමට බැරිවුණාට කණගාටුයි. දැන් මේ පළාතට තදින් පායනවාය. අම්මාට ළඟ දී උපාසකී ඇනුම් පද කීවාය. අපි ඒකට හොඳ අච්චුවක් කරන්න සිටිනවාය.

එදා මට ඩියාරෝ උන්නාන්සේ හම්බවුණාය. අලි පාළුවට කිරිබාස්ට රුපියල් දෙසීයක් ලැබුනෙමි. අපිට රුපියල් එකසිය පණහක් ලැබුනෙමි. මේකට හේතුව අපේ හේනේ එක පන්ගුවක් අලි පාළුව නෑ කියා ආරච්චිලා රෙක්මන් කර තිබීමයි. තවද මම ගමේ ආරච්චිට රුපියල් විසිපහක් දුන්නාය. ඒක දෙන්න ඇරියේ පැටියාගේ අම්මා අතේය. කිරාබාස් ආරච්චිට රුපියල් හතලිහක් දුන්නෙමි. පස්සේ රාජකාරියක් කොරගන්න පාසුවන නිසා අපි එසේ දුන්නාය.

අපිට උඹෙන් වැඩියමක් ඕනැ නෑ. උඹ හොඳට කාලා, බීලා ඉඳින්. නවීන පන්නෙට හැදියන්. තහන්සි මහන්සි වෙලා සේවේ කෙරුවොත් තමා දියුණු වෙන්න පුලුවන්. ස්වාමියාට කීකරුව ඉඳින්. තවද උඹ ගැන නොයෙක් කථා පැතිරෙනවා. උඹේ තත්තේ ඉහළ ගිහිල්ලාලු.

තවද ඔබ ගැන සිහිකරලා අම්මා ගල්ලෙන පන්සලේ බාර වෙනවා. ඔබ නැති පාළුව අපිට දැනෙනවා. තවද අපිට ඇස් දෙක වගේ ඉන්න ඔබට දෙවියන්ගේ පිහිටයි. "

(i) මේ ලිපිය ලිවීමට හේතු පාදක වී ඇති අවස්ථාව කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) මෙහි ඇතුළත් යුගල පද දෙකක් උපුටා දක්වන්න.

(iii) පහත සඳහන් යෙදුම්වල අදහස ලියන්න.
- (අ) ඇනුම් පද
- (ආ) අච්චුවක්
- (ඉ) පන්ගුවක්
- (ඊ) පන්නෙ
- (උ) තත්තේ

(iv) "දරුවන්ගේ දියුණුව අපේක්ෂා කරන දෙමාපියන්ගේ ස්වභාවය, පෙත්සම නවකතාවෙන් ඉස්මතු කෙරේ. උද්ධෘත කොටස ඇසුරෙන් විමසන්න."

**නැතහොත්**

සින්දූපමාන වැව් තලා මතින් නැගී //
පද්ම රේණුයෙන් සුගන්ධ වී
රන්කරල් නමා හමා - සිත් ප්‍රබෝධයෙන් පුරා //
එන්නේ උන් හෙළු ප්‍රාණ වායුවයි
රත්නදීප ජන්මභූමි
ගංගා තරංග රාව දී රිදී වනින්
මල් පිපී කුළෙන් කුළේ හැපී
ගායනා කරන්නේ
ආකාශයේ නැගී
වීරයන්ගෙ ඒ යශෝ ගීතයයි

[ තුන්වැනි පිටුව බලන්න

(i) මේ නිර්මාණයෙන් ඉස්මතු කෙරෙන හැඟීම කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) ඉහත ගීත ඛණ්ඩයෙන් යුගල පදයක් හා නාම විශේෂණ පදයක් උපුටා දක්වන්න.

(iii) පහත යෙදුම්වල අදහස ලියන්න.

(අ) සින්දූපමාන

(ආ) තළා

(ඉ) ප්‍රබෝධයෙන්

(ඊ) වනිත්

(උ) යශෝ

(iv) අතීත මුතුන් මිත්තන්ගේ ක්‍රියාකාරකම් අභිමානයෙන් සිහිපත් කිරීම දේශාභිමානී නිර්මාණයක සාර්ථකත්වයට හේතු වන ආකාරය උද්ධෘතය ඇසුරෙන් විමසන්න. (ලකුණු 25 යි.)

## III කොටස

මෙම කොටසේ ප්‍රශ්න **දෙකකට** පමණක් උත්තර සපයන්න.
(එක් උත්තරයකට වචන **150**ක් වත් තිබිය යුතු ය.)

**4.** උපහාස රසය දැනවීමෙහි ලා උම්මග්ග ජාතක කතුවරයා පෙන්නුම් කරන කුසලතාව **සතරකන් මන්ත්‍රණය** සහ **විවාහ යෝජනාව** යන අතුරු කතා ආශ්‍රයෙන් අගයන්න.

**5.** තුන්බිය නිසා විසාලා මහ නුවරට සිදු වූ විනාශය තාත්ත්වික අන්දමින් වර්ණනා කිරීමට බුදුගුණ අලංකාරය කවියා සමත් වී ඇති ආකාරය නිදසුන් පද්‍ය **තුනක්වත්** ආශ්‍රයෙන් පහදන්න.

**6.** "සියලු බාධක මැඩපවත්වා ගනිමින් ආත්ම විශ්වාසයෙන් යුක්ත ව ජීවිතය ජය ගැනීමට උත්සාහ දරන චරිතයක් වශයෙන් පෙත්සම නවකතාවේ එන තිලකරත්නගේ චරිතය හඳුන්වා දිය හැකි ය." අදාළ අවස්ථා **තුනක්වත්** ආශ්‍රයෙන් පැහැදිලි කරන්න.

**7.** අධ්‍යාපනය කෙරෙහි දරුපරපුර පෙලඹවීම සඳහා පුරාණයේ දෙගුරුන් විසින් අනුගමනය කරන ලද ඇඩි ක්‍රියාමාර්ග **වදන්කවිපොත** පද්‍ය පන්තියෙහි ඇතුළත් වේ. නිදසුන් පද්‍ය **දෙකක්වත්** ඇසුරෙන් පැහැදිලි කරන්න.

(එක් උත්තරයකට ලකුණු 15 බැගිනි)

* * *